# හිතවත් ජනාධිපතිතුමා වෙතටයි

අතිපූජ්‍ය මඩිහේ පඤ්ඤාසීහ මහානායක මාහිමිපාණන් වහන්සේ

ශ්‍රීමත් ජනාධිපතිතුමාට ත්, රජයට ත්, රටට ත්, ඉතා හිතවත් වැ ලිඛිතව ත් වාචිකව ත් ඉදිරිපත් කළ සමහර කරුණු නැවතත් සිහි ගැන්වීමට මෙසේ දන්වා එවමි. සාවධාන ව සලකා බලන මෙන් ඉතා කරුණාවෙන් ඉල්ලා සිටිමි.

ශ්‍රී ලංකා ඉතිහාසය අනුව සිංහලයන් විසින් දමිළයනට විරුද්ධ වැ ආරම්භ කළ සටනක් නැත. දකුණු ඉන්දියාවෙන් පැමිණි දමිළයන් සිංහලයන්ගේ අයිතිවාසිකම් උදුරා ගන්නට සටන් ආරම්භ කළ විට සිංහලයන් තමන්ගේ අයිතිවාසිකම් රැක ගන්නට සටන් වැදුණා. මෙසේ සිංහලයන්ගේ ලක්ෂ ගණන් ජීවිත පරිත්‍යාග කොට රැක ගත් රටයි ශ්‍රී ලංකාව. සිංහලයනට තිබෙන එකම රට ශ්‍රී ලංකාව. එහෙයින් කවර හේතුවක් නිසා හෝ සිංහල රටින් බිම් අඟලක් හෝ වෙන් වනවාට සිංහල ලේ ඇති එක ද සිංහලයකුව ත් කැමති නැත. එසේ වුවත් බොහෝ කාලයක පටන් වාසය කරන අසිංහලයන් සමග සුහදව වාසය කරන්නට කැමති සිංහලයන් ඔවුනගේ සාධාරණ අයිතිවාසිකම් සපුරා දෙනවාට ද ඉතා කැමති ය.

1958, 1977, 1983 දීත් මේ රටෙහි ඇති වූ සටන් ආරම්භ කළෝත් දමිළයෝ ම යි. 1977 කලබලය පටන් ගෙන දින දහයෙකි න් යෝජනා පහක් ඇතුළත් සන්දේශයක් ඉදිරිපත් කෙළෙමි. මේ යෝජනා ක්‍රියාත්මක කළොත් තවත් කවරදාකව ත් ජාතිවාදී කලබල ඇතිවන්නේ නැතැයි සඳහන් කළෙමි. ඒ යෝජනා මෙසේ ය.

1. දමිළයන් සිංහලයනට ත් බෞද්ධයනට ත් නින්දා කරන බොරු චෝදනා ලොව පුරා පතුරුවන හෙයින් ඒවාට සුදුසු පිළිතුරු සංඛ්‍යාලේඛන සහිත වැ පොතක් හැටියට මුද්‍රණය කරවා ලංකා තානාපතිවරුන්ගේ මාර්ගයෙන් සුදුසු අය අතර බෙදා හැරීම.
2. හමුදා විමධ්‍යගත කර ඇති හෙයින් ගුවන් - නායක - පාබල හමුදා පවුල් සමඟ උතුරේ යාපනේ පදිංචි කරවා ආරක්ෂා විධිවිධාන තර කිරීම.
3. කලබලවලට කලින් යාපනේ වාසය කළ විසිදාහකට වැඩි බද්දට වත් ගෙයක් ලබා ගත නොහැකි සිංහල ජනතාව රජයේ ඉඩම් හා නිවාස දී නැවත පදිංචි කරවීම.
4. වවුනියාව හා අලිමංකඩ අතර මහ වනාන්තරය ජනපදයක් කොට ජනානුපාතයට මිනිසුන් පදිංචි කරවීම.
5. මේ මහා කලබලයට මුල හේතුව ඊළාම් කතාව යි. එහෙයින් ඊළාම් කතාව රාජ්‍ය සභාවේ පනතකින් නීති විරෝධී කොට ඊට පසුව කතා කරන අයට උසාවිය මගින් දඬුවම් කිරීම.

ගත වූ අවුරුදු හය තුළ සිදු වූ අලාභ හානිවල සීමාවක් නැති අතර ඊළාම් අර්බුදය ද උග්‍ර වී ඇත. ඒ අතරට අනවසරයෙන් පදිංචි වීමේ හා පදිංචි කරවීමේ අර්බුදය ද පැන නැගී ඇත. අනවසරයෙන් ඉඩම් අල්ලා ගැනීම බොහෝ කාලයක පටන් සිදු වන්නකි. මුල දී ජනපද අසල ඉඩම් අල්ලා ගත්තේ දුප්පත්කමට ය. මෑතක දී අනවසරයෙන් පදිංචි කරවීම පටන් ගත්තේ තමන්ගේ ජන කොටස් වැඩි කර ගැනීමට ය.

දෙවැනි අරමුණ ඇතිව පදිංචි කරවීම පටන් ගත්තේ එකදහස් නවසිය පනස් ගණන්වල මුල දී ය. 1956 වන විට වවුනියාව දිසාවෙහි පමණක් අක්කර 27,000 ක නීති විරෝධී ව පදිංචි කර ගෙන ගියා. දමිළයන් එසේ කරද්දීත් සිංහලයන් එසේ කළේ නැත. ලංකා දමිළයන් ලංකාවේ නොයෙක් පළාත්වල මෙන් ම පිටරටවල ද පදිංචි වීම පටන් ගත්තෙන් උතුරේ පදිංචි කරවීමට පිරිස අඩුවිය. එහෙයින් ඉන්දියානු වතුකම්කරුවන් පදිංචි කරවීමට පටන් ගත්හ.

1981 ජනසංගණනය අනුව උතුරේ පදිංචි කරවූ ඉන්දියානු දමිළයන්ගේ ගණන හැටතුන් දහසකි" 1977 පසුව උතුරේ ඉන්දියානු දමිළයන් පදිංචි කරවීම හොඳට ම බහුල ය. දැන් ලක්ෂය ඉක්මවා ඇත. විවිධ සංවිධාන පිහිටුවාගෙන ලෝගු ඇඳගත් පූජකවරුන්ගේ මූලිකත්වයෙන් මාසයකට පවුල් සිය ගණනින් පදිංචි කරවන්නේ රජයේ ඉඩම් වල ය. අනාගතයේ සිංහලයනට උතුරේ බිම් අඟලක්වත් ලැබෙන්නේ නැත. මේවා හොඳට ම දැන දැනත් වගකිව යුතු අය කතා කරන්නේ නැත. මා නම් කීපවරක් මේ අපරාධය පෙන්වා දුන්නා.

එයට ලැබුණේ බැනුම් සංග්‍රහය පමණි. වීරෝදාර පරම්පරාවකින් පැවත එන සිංහලයන් මේ තරම් නිවට තත්ත්වයට පත් වුණේ කෙසේ ද?

දෙවැනි අරමුණ ඇතිව සිංහලයන් පදිංචි කරවීම පටන් ගත්තේ කිතලගම සීලාලංකාර ස්වාමීන්ද්‍රයන් වහන්සේගේ මූලිකත්වයෙන් නොබෝදා මාදුරුඔය ඉඩම් වල ය. පන්දහසක් පමණ පිරිසකි. අනවසරයෙන් මිනිසුන් පදිංචි කරවූයේ මන්දැයි සීලාලංකාර ස්වාමීන්ද්‍රයන් වහන්සේගෙන් විමසීමි. දමිළයන් විවිධ සංවිධාන හදා ගෙන ලෝගු දාගත් පූජකවරුන්ගේ මූලිකත්වයෙන් ඉන්දියානු දමිළයන් උතුරේ හැම තැන ම පදිංචි කරවනවා ය, දැන් නැගෙනහිරට ත් පැමිණ පදිංචි කරවන්නට පටන් ගෙන ඇත. මාදුරුඔය ඉඩම් වලත් පදිංචි කරවනවා ය යන ආරංචිය ලැබුණා. එසේ වුවොත් අපේ රටට ත් දිඹුලාගල සෙනාසනයට ත් මහත් කරදරයක් ඇති විය හැකි නිසා ඔවුනට කලින් මා මිනිසුන් පදිංචි කළා යයි සීලාලංකාර ස්වාමීන් වහන්සේ ප්‍රකාශ කළා. කවුරුන් කළත් වරද වරද ම යි.

මෙන්න ලෝක පුදුමයක්. උතුරේ අනවසරයෙන් දමිළයන් ලක්ෂ ගණනක් පදිංචි කරවද්දී නැගෙහිරට ත් ඒ උවදුර පැමිණ තිබෙද්දී ඇසත් කටත් වසා ගෙන සිටි සමහරු මාදුරුඔය ඉඩම් වල සිංහලයන් පදිංචි කරවීම අරමුණු කරගෙන ජනාධිපතිතුමාට ත් කියා මහත් ආන්දෝලනයක් පටන් ගෙන ඇත. ලංකාව මහ මුහුදට ගිලා බැස යන තරමේ අර්බුදයක් කරගෙන ඇත. විශේෂ හමුදා යොදා තිබෙනවා. දිඹුලාගල වන්දනා රථ පවා පරීක්ෂා කරනවා. වන්දනාකරුවන් ගම්වලට ගොස් පුදුම කතා පතුරුවනවා. සිංහලයන් බෞද්ධයන් බලවත් වේදනාවකින් පසු වෙනවා.

ඊළාම් අර්බුදය, අනවසරයෙන් රජයේ ඉඩම් වල පදිංචි වීමේ අර්බුදය යි දැන් අර්බුද දෙකක් ඇත. මේ දෙකම නොපමාව සංසිඳුවා ගත යුතු ව ඇත. එයට යෝජනා දෙකක් ඉදිරිපත් කරමි. භික්ෂූනට අයිති නැති දේ කතා කරනවා යයි සමච්චලයට භාජන නො කොට සාවධාන වැ සලකා බලන්නේ මැනැවි.

ඊළාම් අර්බුදය හොඳින්, නරකින්, උපක්‍රමශීලී භාවයෙන් යනුවෙන් සංසිඳුවන ක්‍රම තුනක් ඇත. ජනාධිපතිතුමා ඊළාම් හැරෙන්නට දමිළයන්ගේ සාධාරණ ඉල්ලීම් සපුරා දෙමින් මේ අර්බුදය හොඳින් සමථයකට පත්කැර ගැනීමට අවුරුදු හයක් මුළුල්ලේ ගත් උත්සාහය ව්‍යර්ථ වී ඇත. තවත් ඒ මඟ යෑම ප්‍රයෝජනවත් නොවනු ඇත. වර්තමාන ලෝකයේ හැටියට තළා පෙළා සමථයකට පත් කිරීම ද සුදුසු නොවේ. ඉතිරි ව තිබෙන්නේ උපක්‍රමශීලීභාවයයි.

උතුරේ පාලනය ටික කලකට හෝ බුද්ධිමත්, ඉවසන සුලු, උපක්‍රමශීලී හමුදා නායකයකු අතට පත් කරන්න. යට කී ලක්ෂණ තුනෙන් යුක්ත ත්‍රිවිධ හමුදාවේ ම සෙබළුන් තෝරා ගැනීමේ නිදහස ඔහු වෙත පවරන්න. සමථයකට පත් කිරීමේ බලතල ඔහුට දෙන්න. එයට සුදුස්සා තෝරා ගැනීම ජනාධිපතිතුමාට අපහසු නොවනු ඇත.

1960 හා 65 ත් අතර කාලයෙහි මෙතරම් බරපතල නො වුවත් උතුරේ පෙඩරල් රාජ්‍යයක් පිහිටුවීමට මුද්දරත් මුද්‍රණය කරගෙන මහත් අර්බුදයක් ඇති කළා. ඒ අවස්ථාවේ දී යට කී ලක්ෂණත්‍රයෙන් යුත් සෙන්පති රිචඩ් උඩුගම මහතා එහි පාලනයට පත් කළා. එතුමා උපක්‍රමශීලීව හිංසාවක් නැති වැ සමථයකට පත් කළා. සෙන්පති උඩුගම මහතා උතුරේ ජනතාවගේ හොඳම මිත්‍රයා වුණා.

අනවසරයෙන් පදිංචි වීම නිසා ඇති වී තිබෙන තත්ත්වය පහසුවෙන් සමථයකට පත්කර ගත හැකි වේ. එහෙත් රජය කියන පරිදි උතුරේ හා නැගෙනහිර අනවසරයෙන් පදිංචි ව සිටින්නන් ඉවත් කරන්නට ගියොත් සමථය වෙනුවට අර්බුද පිට අර්බුද ඇති වෙනවා ඇත. මා කලින් සඳහන් කළ දෙවනි අරමුණ අනුව අනවසරයෙන් දමිළයන් පදිංචි කරවන්නට පටන් ගෙන අවුරුදු 30 ක් පමණ වෙනවා. ගණනින් ඉන්දියානු දමිළයෝ ලක්ෂයක් පමණ වෙති. මේ ලක්ෂය ඉවත් කරන්නේ කොයිබට ද? උඩරට වතුවල ඇබෑර්තු තිබෙන්නේ 4000 ක් පමණ ලු. ඉතින් මේ ලක්ෂයක් ජනතාව නිකම්ම පිට වී යන්නට යයි කිවොත් ඉන්දියා රජය ත් ජනතාව ත් බලවත් සේ විරුද්ධ වනු ඇත. මහා අර්බුදයක් පැන නගිනු ඇත.

මුලින් පදිංචි වූ ලක්ෂයක් පමණ දමිළයන් එසේ සිටියදී පසු ව පදිංචි වූ සිංහලයන් 5000 ක් පමණ ජනයා ඉවත් කරන්නට ගියොත් සකල සිංහල ජනතාව ම විරුද්ධ වනු ඇත. මහා අර්බුදයක් පැන නගිනු ඇත. මේ අර්බුද දෙක ම පැන නො නගින්නට ත් රටේ සාමය පැතිරෙන්නට ත් උපකාර වන එසේ ම කළ හැකි යෝජනාවක් ඉදිරිපත් කරමි.

උතුරේ වවුනියාව ත් අලිමංකඩ ත් අතරෙහි අනවසරයෙන් පදිංචි වී සිටින ඉන්දියානු දමිළයන් ඉදිරි කාළයෙහි ශ්‍රී ලංකා පුරවැසිකම් ලබන අය විය හැකි ය. එය එසේ නම් ඔවුන් ජනපද වල පදිංචි කරවන පිළිවෙල යටතේ එහි ම පදිංචි කරවන්න. ඊට මුළු ඉන්දියාව ම සතුටු වනවා ඇත. මේ ප්‍රශ්නය අල්ලාගෙන කෑගසන දඟලන ලංකා දමිළයනු ත් දකුණු ඉන්දියානු දමිළයනු ත් කටවල් වැසී අඬු කැඩුණාන් මෙන් බිම ඇද වැටෙනු ඇත.

වවුනියාව ත් අලිමංකඩ ත් අතරෙහි තිබෙන හිස් භූමිවල ජනානුපාතය අනුව සිංහලයන් පදිංචි කරවන්න. එහි පළමු කණ්ඩායම වශයෙන් මාදුරුඔය ඉඩම් වල අනවසරයෙන් පදිංචි ව සිටින 5000 ක් පමණ සිංහලයන් ගෙන ගොස් වවුනියාවේ පදිංචි කරවන්න. උතුරේ පුරාණ විහාරස්ථාන පිළිසකර කොට භික්ෂූන් පදිංචි කරවන්න.

මෙසේ කිරීමෙන් සිංහලයනු ත් ලංකාවේ සිටින ඉන්දියානුවනු ත් දකුණු ඉන්දියානු ජනතාව ත් ඉන්දීය රජය ත් මුස්ලිම්වරුනු ත් ලංකා දමිළයන්ගෙන් අඩක් පමණ බුද්ධිමත් ජනතාව ත් සතුටු වනු ඇත. අර්බුද ද සමථයකට පත්වනු ඇත.

දිසා සංවර්ධන සභාවලට පූර්ණ බලතල දී ඇත. උතුරේ හෝ දකුණේ හෝ දිසා සංවර්ධන සභාවලට එකතු වන්නට ඉඩ දෙන්නට එපා. ඒ සඳහා ජනමත විචාරණ අවශ්‍ය නැත. පෙඩරල් කියන්නේ වෙන ම රාජ්‍යයකට ඉංග්‍රීසි නමයි. ඊළාම් කියන්නේ දෙමළ නමයි. උතුරේ දිසා සංවර්ධන සභාවලට එකතු වන්නට ඉඩ දුන්නො ත් ඒවා පෙඩරල් නැත්තම් ඊළාම් රාජ්‍ය වෙනවා. එසේ වුණොත් දකුණු ඉන්දියාවේ උපකාර ත් ලබාගෙන සිංහල ජාතිය විනාශ කරනවා.

තව ද අප බෞද්ධයන් කතෝලිකයන් සමඟ ස්වල්ප වූ ද විරෝධයක් නැත. කතෝලිකයන් සමඟ සුහද වැ වාසය කරන්නට ඉතා කැමති ය. දැනුත් එසේ ම ය. එහෙත් කතෝලික ආක්‍රමණයට සියයට පන්සියයකට ත් වඩා විරුද්ධ ය. දැන් කතෝලික ආක්‍රමණය සමහර තැන්වල රජවෙලා. සමහර කැන්වල සක්විති රජවෙලා. කතෝලික ආක්‍රමණයේ ස්වභාවය බලවත් තැන් අල්ලාගෙන ඔවුන්ගේ සගයන් වගකිවයුතු තැන්වලට රිංගවා ගැනීම යි. දැන් එය හොඳින් කරනවා. එහෙත් නැති තරමට නිහඬ යි.

කතෝලික ආක්‍රමණයෙහි තවත් අංශයක් නම් වරපුරුෂ සේවය යි. මහා හිතවත්කම් පෙන්වමින් බොහොම හොඳින් කතා කොට ඔවුනොවුන් භේද කිරීම යි. මෙකල ද එය හොඳින් සිදු වනවා. බෞද්ධයන් බොහොම කල්පනාකාරී වැ ක්‍රියා කළ යුතු අවස්ථාවයි මේ. මේ කරුණු හොඳින් දන්නා බෞද්ධයන් බලවත් වේදනාවකින් පසු වෙනවා.

ශ්‍රීමත් ජනාධිපතිතුමනි! අග්‍රාමාත්‍යතුමනි! අමාත්‍යවරුනි! මන්ත්‍රීවරුනි! මුලින් සඳහන් කළ කරුණු ගැන සාවධාන වැ සලකා බලන මෙන් ඉතා කරුණාවෙන් දන්වමි.

1983 දී ජනාධිපතිතුමා අගමැතිතුමා ඇතුළු අමාත්‍ය මණ්ඩලයට ත්
මන්ත්‍රී මණ්ඩලයට ත් ඉදිරිපත් කැරුණු සන්දේශයකි.
ප්‍රඥාප්‍රභා 7

“ඉපදුණ රටට අදහන ආගමට සෙට
මොනමොන අන්දමින් මුත් මෙහෙයක් නො කොට
පැටවුණු බරක් මෙන් ලංකා පොළව පිට
පසුවන එක හොඳ ද? සිංහල පුතකු හට”

නිදහසේ මන්ත්‍රය.
ටිබෙට් ජාතික එස්. මහින්ද හිමි.

යතුරුලිවීම:චමිත ලක්මාල් මහතා
අජිත් ද අල්විස් මහතා